යෙ. චරුෂින්

# ජීවත්වන හැටි



# ලේනා

ලේනාට හීතලය දරුණු නැත. උගේ අළු පාට ලොම් උණුසුම්ය.

ගිම්හාන සමය පැමිණෙයි. ලේනා ලොම් මාරු කරයි. දූන් සීතල නැත. කාගෙන් වත් හැංගෙන්ට උවමනාවක්ද නැත: සීන් රත්පැහැති .ලොම් දඩයක්කාරයන්ට නුවුමනා බැවිනි.





# හාවා

හාවා වේගයෙන් දුවයි. ඌව අල්ලන්ට හැම බල්ලෙකුටම බැරිය. හාවා පඳුරු යට නිදා ගනියි. මස් කන සතුන්ගෙන් හැංගෙයි. කැලේ සිට වෙල්යායට පිනුම් ගහමින් කෑම සොයන්ට යයි.

උයන්ගොව්වා, හාවාට උයනට ඇතුල්වෙන්ට දෙන්න එපා: ඌ ඇපල් ගස්වලත් වෙරි ගස්වලත් පොතු ලෑටි ගානවා.



# වෘකයා

වෘකයාට ගිම්හාන සමයේ හොඳට කෑම තිබෙනවා. වල් සත්තු බොහොමයි.

සීත කාලය එනවා. කුරුල්ලෝ පියාඹා යනවා, සත්තු හැංගෙනවා. වෘකයාට කන්ට දෙයක් නෑ. බඩගිනි නපුරු වෘකයෝ ඇවිදිමින් ගොදුරු හොයනවා. ගම්වලට යනවා. මුරකාරයන් නැති, අගුළු සවි සක්තිය නැති තැන්වලින් බැටළුවන් ඩැහැගෙන යනවා.



# වලහා

වලහා හිම ගුහාවට වැදිලා නිදාගෙන ඉන්නවා, ඇඟිලි පුප්පනවා. හිරු හිම දිය කළා. වලහා නැගිටලා කෑම හොයන්න කැලේට යනවා.

පහුගිය අවුරුද්දේ ගෙඩිජාති හොයනවා, කුඩා මුල් හාරනවා. බෙණවලින් මී මැස්සො පියාඹනවා දකිනවා.

වලහාට මී පැණි කන්න හිතිලා බෙණයට බඩගෑවා. වලහාට මී මැස්සෝ මී පැණි දුන්නෙ නෑ, ඌව එලවගත්තා. වලහා ගෙරෙව්වා, ගහෙන් බැස්සා, ගියා වෙන කෑමක් හොයන්න.







# සීබ්‍රා

අප්‍රිකාවේ තණබිම්වල රංචු වශයෙන් දුවන අශ්වයෝ ඉන්නවා. ඒ සීබ්‍රාවෝ‍යි. සීබ්‍රාවෝ සාමාන්‍ය අශ්වයන්ට වඩා වෙනස්. උන්ගේ වයිරන් තියෙනවා, බෙල්ලේ මයිල් කෙටියි.

ඔවුහු වල් සත්තුය. වැඩුණු සීබ්‍රාවෙකුට උගන්වන්න අපහසුයි. තරුණ සීබ්‍රාවෝ විශ්වාස වන්තයි.



# ඔටුවා

ඔටුවන්ගේ කකුල් වැල්ලෙ එරෙන්නෙ නෑ. ඔටුවාට හුඟ කාලෙකට වතුර බොන්න ඕන නෑ. හුඟ කාලෙකට බඩගිනි දැනෙන්නෙ නෑ. කාන්තාරයේ රස තණකොළ නෑ, වදුලට වැඩුණු ගස් කොළන් නෑ. ළිඳක් තියෙන්නෙ කලාතුරකින්.

නරක පාරවල් ඇති තැන්වල, කාර් යන්න බැරි, අසුන් පිට යා නො හැකි තැන්වල ඔටුවා මිනිසාට විශ්වාස වන්ත සහායකයෙක්.



# සිංහයා

සංචාරකයෝ මෙසේ කියනවා:

අප්‍රිකාවේ වනාන්තරවල අඳුරවැටෙන විට හැම අතකින්ම හඬගෑම් ඇහෙනවා.

භයානක හඬකින් කොටියෝ කෑ ගහනවා, බල්ලො උඩුබුරලනවා. එකපාරටම මහා හඬින් සිංහයා ගොරවනවා. එතකොට කොටියෝ, වල් ඌරෝ හැංගෙනවා, තිත් මුවෝ, සීබ්‍රාවෝ දුවනවා. සිංහයාගේ කටට වැටෙන්න කවුරුවත් කැමති නෑ.



# ව්‍යාඝ්‍රයා

ව්‍යාඝ්‍රයා භයානක ගරුසරු නැති සතෙක්. ඌ මහකැලේ, වනලැහැබ්වල තිත් මුවෝ, වල් ඌරෝ, කුළු මීමෝ යන පාරවල හැංගිලා ඉන්නවා. ව්‍යාඝ්‍රයා ගොදුරක් ලැබෙනකල් ඉවසිල්ලෙන් බලාගෙන ඉන්නවා.

සත්තු ව්‍යාඝ්‍රයාට බයයි. ආයුධයක් අතේ නැති මිනිසකුටත් ඌ අන්තරායදයකයි.



# ඇතා

යුරෝපයේ කැලෑවල හා කුඹුරුවල ඇත්තු ඇවිදින්නෙ නෑ.

අප්‍රිකාවේත්, ඉන්දියාවේ සහ ලංකාවේත් වනාන්තරවල ඔවුන් සිටිනවා. ඇතා හොඬවැලෙන්, අතින් වගේ උණගස් වෙලාගෙන උදුරනවා. දියට බැහැල හොඬවැලෙන් වතුර අරගෙන දූවිලි කුණු හෝද ගන්නවා.

ඇතාට හතුරෝ නෑ. මහා ඇතාට ඔක්කොම බයයි.

ඇතා හීලෑ කෙරුවොත් ඔහු මිනිසාගේ හොඳ ආධාරකාරයෙක්. බර වැඩවලට උදව් කරනවා, ළමයින් පවා බලාගන්නවා.

සෝවියට් සංගමයේ මුද්‍රණයකරන ලදී









Е. ЧАРУШИН
КТО КАК ЖИВЕТ
*на языке синхала*







මොස්කව්
ප්‍රගති ප්‍රකාශක මන්දිරය



Ч $\frac{70801-101}{014(01)-81}$ б. объявл.

4803010102